

රුසියානු මහා කවි

## ව්ලද්මීර් මයාකෝව්ස්කි

# හොඳයි නරකයි මෙන්න මේකයි

රුසියානු මහා කවි

## ව්ලදිමීර් මයාකෝව්ස්කි

# හොඳයි නරකයි
# මෙන්න මේකයි

චිත්‍ර
යූ.කරෝවින්

අනුවාදය


ISBN 978-955-0230-15-0

නව පරිගණක සකැසුම
මාලක ලලනජීව

මුද්‍රණය




ප්‍රකාශනය



**අගහස් ප්‍රකාශන**
717/2, මාදින්නාගොඩ, රාජගිරිය.

ප්‍රථම මුද්‍රණය 2013

රුසියානු මහා කවි

## ව්ලදිමීර් මයාකෝව්ස්කි

# හොඳයි නරකයි මෙන්න මේකයි

චිත්‍ර

**යූ.කරෝවින්**

අනුවාදය

**රන්ජන දේවමිත්‍ර සේනාසිංහ**



**අගහස් ප්‍රකාශන**
717/2, මාදින්නාගොඩ, රාජගිරිය.

# ව්ලදිමීර් මයාකෝව්ස්කි

මේ නමින් හැඳින්වෙන්නේ 20 වැනි සියවසේ රුසියාවේ වාසය කළ සාහිත්‍යධරයෙක්. ඔහු නාට්‍යවේදියෙක්, චිත්‍රපට තිර රචකයෙක්, චිත්‍රපට අධ්‍යක්ෂවරයෙක් හා නළුවෙක්, චිත්‍ර ශිල්පියෙක් හා සඟරා සංස්කාරකවරයෙක්. එහෙත් ලෝකයේ ජනයා අතර ඔහු වැඩියෙන් ප්‍රකට වුණේ සමාජවාදී අදහස් ඇති, විප්ලවකාරී කවියකු හැටියට.

1893 දී ඔහු උපත ලද්දේ රුසියානු අධිරාජ්‍යයේ බග්දාති කියන නගරයේ. එය අයත් වන්නේ දැන් ජෝර්ජියාව ලෙස හැඳින්වෙන රටටයි. ඔහුට සහෝදරියන් දෙදෙනෙක් හා සහෝදරයින් දෙදෙනෙක් සිටියා. සහෝදරයින් දෙදෙනා කුඩා කාලයේ දී ම ලෙඩරෝග හැදිලා මියගියා. කවියාගේ වයස අවු. 13 දී ඔහුගේ පියාත් ගිලන් වී මියගියා. පස්සේ ඔවුන් මොස්කව් නුවරට පැමිණියා. මයාකෝව්ස්කි මොස්කව්හි පාසැලකට ඇතුළු කළත් ගාස්තු ගෙවාගන්නට බැරිවීම නිසා ඔහු පාසැලෙන් ඉවත් කෙරුණා. 1908 දී දේශපාලන කටයුතුවල නියැලෙන්නට පටන් ගන්නා ඔහු ඒ නිසාම නොයෙක් තාඩනපීඩනවලට ලක් වෙනවා. සිරගතව සිටියදී කවි ලියන්න පටන් ගත්ත මයාකෝව්ස්කි ඉන් නිදහස් වූ පසු චිත්‍රශිල්පියකු ලෙස පුහුණුව ලබනවා. ඔහුගේ කලා ජීවිතය ආරම්භ වන්නේ ඒ ආකාරයෙන්.

මේ කවියා ගැන ඔහු ජීවත් ව සිටි කාලයේ ම පුරාවෘත්ත ගොඩනැගුණා. ඉන් එකක කියැවුණේ, සෝවියට් දේශය නමැති සමාජවාදී රටේ සද්දන්ත යෝදයෙක් ඉන්නා බවත් ඔහු කවි කියනා බවත් ඔහු රතු නැවක පිහිටි කපිතාන්ගෙ අණදෙන කුටියට නැගිලා කියන කවි මහ මුහුදුවලින් එතෙර ඈත රටවලටත් සෝවියට් දේශය රකිමින් මුර සංචාරය කරන නෞකාවලටත් ඇසෙන බවත් ඒ අසන නැවියන් සෝවියට් දේශයේ හතුරන් පළවා හරින්නට යුහුසුලු වන බවත්.

මයාකෝව්ස්කි කවියාගේ ශරීර ප්‍රමාණ ගැන කල්පනා කරන විට සැබැවින් ම ඔහුට තිබුණේ යෝධයකුගේ පෙනුමක්. ඔහු ඉතා ම උසයි. ඔහුගේ උරහිස් හරිම පළලයි. ඔහු දවැන්ත, ශක්තිමත් පුද්ගලයෙක් වුණා. ඔහුගේ කට හඬේ තිබුණේ අසාමාන්‍ය බලයක් හා අලංකාරයක්. එනිසා පැය ගණන් පුරා ඔහු කවි කියනවා අහගෙන ඉන්න මිනිසුන් රැස් කකා සිටි බව සඳහන් වෙනවා. දේශපාලනයෙදි පමණක් නොවෙයි, කවියෙදිත් ඔහු පෙරළිකාරයෙක් වුණා. ඒ, සම්භාව්‍ය කවිය විසින් නොපිළිගත් ගැමි වදන් කවියට ඇතුළත් කරමින් සහ අලුත් කාව්‍ය විරිත් භාවිතයට ගනිමින්. ඒ නිසා ඔහු විවේචනයටත් බඳුන් වුණා.

මයාකෝව්ස්කි කවියා ජීවත් වුණේ ඉතාම කෙටි කාලයයි. අවුරුදු 36ක් පමණයි. 1930 දී මිය යන මේ කවියාගේ සැමරුම් නිමිත්තෙන් සෝවියට් සංගමය හා රුසියාව විසින් තැපැල් මුද්දර ගණනාවක් නිකුත් කර තිබෙනවා. ඒ වගේම ඔහුගේ නමින් මංමාවත්, උමං දුම්රිය ස්ථාන, නගර හා චතුරශ්‍ර නම් කෙරුණා. රුසියාව විසින් මෑතක නිකුත් කරන ලද කාසියකත් ඔහුගේ රුව යොදා තිබුණා. ඔහු වෙනුවෙන් ඉදිකෙරුණු පිළිම ප්‍රතාපවත් ලෙසින් අදත් නැගී සිටිනවා.

මේ කවියා සැරපරුෂ පෙනුමෙන් යුතු වුවත් ඔහුට තිබුණේ බොහෝම මටසිලිටි, කරුණාවන්ත හදවතක්. ඒ නිසා සෙසු සියලු කලා කටයුතුවල නියැලෙන අතරවාරයේ පොඩිත්තන් වෙනුවෙන් ලියන්නත් ඔහු කොහොම හරි කාලය සොයා ගත්තා. සිඟිත්තන් වෙනුවෙන් මයාකෝව්ස්කි කවියා ලියූ කුඩා පොත් පිංචක් තමයි අද මේ ඔබට ඉදිරිපත් කෙරෙන්නෙ. රුසියානු බසින් මයාකෝව්ස්කි කවියා ලියූ ඒ කවි මෙහි සිංහල බසින් පළ වන්නේ, හැකිතාක් දුරට සිංහල කාව්‍ය සම්ප්‍රදායයට ගැලපෙන ආකාරයෙන් හැඩගස්වාගෙනයි. ඒ, 2013 වසරට යෙදෙන මයාකෝව්ස්කි කවියාගේ 120 වැනි ජන්ම සැමරුම නිමිත්තෙන්.



පොඩි පුතු දුවැවිත් තාත්ත　　අසලට
'මුනු - මුනු' ගාමින් විමසයි　　හෙමිහිට
"නරක නොගන්නට හොඳ දේ　ගන්නට
වෙනසක් ඇති නම් පහදා දෙන්　　මට"



“මුළු ලොව සිටිනා දරුවන්ගේ සෙත
පතනා කවියෙකු ලෙස සත යහපත
මාගේ පිළිතුර ගොනුකර මේ ගත
එළි දක්වමි, කියවා වැඩ ගනු පුත”

වහලෙ සෙවිලි කළ පොල් අතු
මානා සර සර නංවා
අකුණු සරින් ඇදෙනා විට
මාරුත සිත බිය ගන්වා

වේලෙන්නට වැලේ අතුළ
රෙදි ටික හනිකට ගන්වා
මිදුලෙ කෙළින කෙළි නවතා
ගෙට වී හිඳුමයි සොඳවා





වැස්ස වැටී ඉවර වුණා
හිරු යළි පායා නැගුණා
දේදුන්නක හැඩ ඇඳුණා
මුළු ලෝකෙම එළිය වුණා

ගහ කොළ යළි පණ ලැබුවා
මල් ගොමු පිපිලා නැටුවා
පරිසරයේ සිරි බලවා
ඇවිදින්නට දැන් සොඳවා

මහනෙල් මල් පෙති හා සරි
පිය දරුවකු වත බර සිරි
ඇඳෙතොත් ලප මඩ දුහුවිලි
එය නැත සොඳ, වෙයි අම්හිරි





දත් බෙහෙත ද සබන් කැටය
        යම් දරුවෙක් ප්‍රිය කරයි ද
පිරිසිදුකම අගය කරන
        ඔහු කාහට ප්‍රිය නොවෙයි ද
අනාගතය ඔහුගේ
        සැක නැත නිති සුදිලේ
ඔහු වැනි දරුවන්ගේ
        මඟ යන්නො ද බැබැලේ

පොර කුකුළකු වගෙ   දඟලන
දුටු දුටු තැන පොල්ලක් ගෙන
අහිංසක ළමුන්ට තලන - අකීකරු වැඩ ම කරන
මේ වගෙ ළමයෙක් පොතකට යෙදුමත්
නොහොබී, ඔහු කටු ගෑමයි   යහපත්






“තමනට වඩා පොඩි
අයට අත නොතබනු” දැඩි
හඬින් පවසන එඩි
දරුව දැක්මෙන් වේ ය ප්‍රිය වැඩි

පාඩම් පොත්වල පිටු කඩනා නිති
බෝලය හිල් කර ගැනුමත් තොර නැති
දරුවන් දකිනා අය නිති පවසති
"හරියට හැදිලා නැති බව පෙන්වති"





හිමිදිරියෙම අවදි වී
පාඩම් පොතට නෙත දී
වැඩෙහි අනලස් වී
සිටින දරු ගැන කියති තුති ගී

ඇඟපත ලොකුවට තිබුණාට
පලාදුවන්නට හනිකට
පත්විය මහ හඬින් බියට
කළු කපුටගෙ කෑ ගැසුමට

මේ වගෙ බියසුලු ළමයින්
ජීවිතයට වැඩක් නැතේ
තැති ගැනීම බොරු බයකින්
වැරදියි කිසි පලක් නැතේ





බටු ඇටයක් වගෙ හිටියට
බිය වුණෙ නැත කපුටු හඬට
"ආවොත් හෙම වාදයකට
දෙනව බැටේ පැන දුවන්ට"

මේ වගෙ එඩිතර ළමයින්
ජීවිතයට අරුත් ගෙනේ
අමාරුවකදී සැනෙකින්
ඉදිරිපත්ව පිහිට ගෙනේ

මඩ වගුරට බැස ගත්තේ
එයින් සතුට ලැබ ගත්තේ
ඇඳුම කිලිටි කර ගත්තේ
එය මව් සිත නොම ගත්තේ

මේ වැනි දරුවන් - ගැන හොඳ නොකියත්
උන් නොම පසසත් - "සැනසීමක් නැත්"



සපත්තු සෝදලා මදින
මේස් සෝදලා පළඳින
කුඩා වුවත් මේ ළමයින
සොඳ යැයි කවුරුත් පවසත



සෑම දරුවකුම සිහියේ
රඳවා ගත යුතු තරයේ
කරුණාක් මතු කළ යුතු වේ
ලොවට එයින් වැඩ සිදු වේ

උෟරකුගෙ කුණු ගති
ඇතුව හැදෙතොත් හොඳ නැති
අවලාද නිම් නැති
මව්ට පියහට යොමු වේය නිති

එසේ වැඩෙන ළමයින්ගෙනි
මතු වැඩිහිටි ලොව සැදෙන්නෙ
එදවස මුළු ලෝකයෙන්ම
උෟරු ගඳයි පැතිර යන්නෙ



මේ අවවාද ගත්
වීය පැංචගෙ හද තෙත්
හොඳම කෙරුමට සිත්
ගියා නරකට දැන් ඉඩක් නැත්



